මිහායිලෝ ස්තෙල්මාහ්

# සුර තාරා



පරිවර්තනය

රන්ජන දේවමිත්‍ර සේනාසිංහ

මිහායිලෝ ස්තෙල්මාහ්

# සූර තාරා

චිත්‍ර

**වී.සුතේයෙෆ්**



පරිවර්තනය

**රන්ජන දේවමිත්‍ර සේනාසිංහ**



# කඩිසර එළු පැටව්

එළුවා හැදුවා ත්‍රීවීලරයක්
යල කන්නෙදි හෑමට හොඳ නඟුලක්

බක් මහ වැහි ටික ලැබුණා කදිමට
එළුවා ගෙවත්ත හෑවා පදමට

එළු පැටවුන්හට කන්නට දෙන්නට
එළුවා සිතුවා පළා වවන්නට



කඩිසර එළු පැටවුන් ටික හනිකට
දෙමාපියන්ගේ කුස පුරවන්නට
ඉඩ කොටහක් ගේ ළඟින්ම වෙන්කොට
පිපිඤ්ඤා වැවූ හැටි ප්‍රිය වේ දැකුමට



# සූර තාරා

පාන්දරින් නැඟිටින්නේ
ගඟ වෙත දුවගෙන එන්නේ
ව්‍යායාම කරවන්නේ
අනුපිළිවෙළ සූරකින්නේ

පාලම උඩ සිටගන්නේ
දොළේ දියට පැනගන්නේ
ඈතට පිහිනා යන්නේ
ඇඟපත සෝදා ගන්නේ

පළමුව එකතැන දිවුමයි
දෙවනුව අත් විහිදීමයි
පා ළං කොට සිට ගැනුමයි
සිවවනුවට කල් බැලුමයි

නෙළුම් කොළේ උඩ නැඟලා
මෙදෙස බලාගෙන ඉඳලා
මැඩි අප්පුත් සතුටු වෙලා
කෑ ගැහුවා 'බක' හඬ ලා

අහර හොඳින් ඩැහැගන්නට
බෙල්ල දිගට වඩවන්නට
මනාව පිහිනා යන්නට
වලිගෙ පුහුණු කරවන්නට

"ව්‍යායාම කරවන්න හපන්
විස්කම් පානා තාරා උපන්-
ගෙයි දස්කම් ඇති කෙනෙකි නිපුන්
සැමදෙන ඔහුගෙන් ගනු නිදසුන්"

ව්‍යායාම කරවන්නේ
ඩා මුගුරු ද වෑහෙන්නේ
එවිටයි නිදහස දෙන්නේ
නාගන්නට සැම යන්නේ



# කුකුළු රාළ

මුල් ඇඳුමේ හැට්ටෙ ඇඳල
පීප්පෙ ගැට්ටටම නැඟල
තම රූපය වතුරෙ ඇඳිල
තියෙනා හැටි බලයි කුකුළ





## මාන කොකා-නාන කොකා

වෙල අද්දර වන ලැහැබ  තියෙන්නේ
ඒ අසලින් ඇළ ගලාන  යන්නේ
කම්මැලිකම් දුරලා  බැසගන්නේ
පාන්දරින් ඇඟ  සෝදාගන්නේ

හොටයෙන් අල්ලා අතු  සොලවන්නේ
වැටෙනා පිනි බිඳුවෙන්  නාගන්නේ
රිදී පාට ජලයෙන්  සැනහෙන්නේ
හොඳහැටි බෙල්ලත්  සෝදාගන්නේ

''වතුර හීතලයි නාන්න  බෑනේ''
කියා කොකා නෑ බෙරිහන්  දෙන්නේ

වට්ටක්කය කිලෝ තුනයි
පාත්තියේ උඩම තියෙයි
කොක් අම්මයි පැටව් ටිකයි
කූඩු සදා එමත වෙසෙයි

ළංකොට දරු පැටවුන් ටික
අම්ම දෙනව උපදෙස් ටික
"අප වෙසෙන්නෙ කඳු මුදුනක
කිසිවිට නොකරව් අමතක"





# හාවයි කකුළුවයි

නිදි පැදුරෙන් නැගිටලා
හිම වැටී ඇති සැටි බලා
හිම කබාය පොරවලා
හැඩ දැයි හැරී හැරී බලා

උඩු රැවුල ද කරකවා
කීව හෙමින් මුමුණාලා:

"හාවගෙ තේරීම අගෙයි
හිම කබාය පංකාදුයි
උත්තර ධ්‍රැවයටම වුවත්
මේක ඇඳන් යා හැකි වෙයි

"හිම සපත්තු දෙකක් නැතේ
එයින් හිතට දුකක් ඇතේ
හීතලයට විවර වෙතේ
දෙපා කිටිකිටියෙ ගැහෙතේ"

බීවරයෙක් දුව එන්නේ
හාවට උපදෙස් දෙන්නේ
"මොනවට කරදර වෙන්නේ
බූට් මසාලා දෙන්නේ

දැන් දුන්නොත් ඕඩරයක්
මේ දැන් ගන්නව මිම්මක්
නොවරද්දා කිවු දිනයක්
මහල දෙනව නෑ සැකයක්

"සපතේරු කකුළු තෙම
වෙයි මගේ මිතුරු තෙම"

හිත හිතා නොසිට හාවා
විල වෙත දුවගෙන ආවා
කොටය මතට ගොඩ වූවා
සොයා බලන්නට වූවා

"සපතේරු කකුළු තෙම
සැඟවෙන්න කරුණු කිම"

විලෙන් ගොඩට වහ අවුදින්
හාවා විපතින් මුදවන්
බූට් කුට්ටමක් මසපන්
හනිකට මෙය කරදීපන්

කුර ගැටෙනා හඬ පයින් නැඟෙන්නට
පොර කටු කිංකිණි නාද ඇසෙන්නට
නරියන් බිය වී හඬා වැටෙන්නට
සපත්තු යුවලක් මහලා දෙන් මට

වතුරෙන් හිස මතු කරලා
කකුළුව පිළිතුරු දීලා

''වැඩකට නැතිවයි හිතවත
වැඩ පවරන්නේ මා වෙත
සීත කාලෙ මට නිදිමත
බැහැ යෙදුමට වැඩකට සිත

ගිම්හානයෙ ඕඩරය ලැබිණි නම්
මහලා දෙනවා ඒ කාලෙම මම්





වපරය හුස්මක් ගත්තා ගැඹුරට
කියනව මේ ලෙස අනුකම්පාවට

"ඉර පායා ඇති කාලෙට
බූට් සපත්තුව කුමකට
කාගෙ නැගෙන්නෙද සිහියට
හසුවන බව දැඩි සීතට"

"නැතිවද මොළයක් සිතන්න?"
කකුළුව විය නුවණ දෙන්න
"ඉතුරු ටිකත් ඔහොම ඉන්න
ගිම්හානෙදි නැවත එන්න"

එදා පටන් මේ වන තුරු
ගෙවුණු කාලෙ ගණිනව බොරු
හා හාමිට අද වන තුරු
හිම සපත්තු නැතේ, මිතුරු

